**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**



**43 S I**

| පත්‍රය | ලකුණු |
|---|---|
| I | |

| | |
|---|---|
| පරීක්ෂක 1 | |
| පරීක්ෂක 2 | |
| EMF | |

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022 (2023)**
**General Certificate of Education (Ord. Level) Examination, 2022 (2023)**

**චිත්‍ර I**
சித்திரம் I
Art I

**පැය එකයි**
ஒரு மணித்தியாலம்
*One hour*

විභාග අංකය : ......................................

✳ **සියලු ම ප්‍රශ්නවලට මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.

● පහත සඳහන් ඡායාරූපය ඇසුරු කරගෙන අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවල හිස්තැන් පුරවන්න.



**1.** මෙම පර්වතය කලාකාමී ................................ විසින් තම රජ මාලිගය ලෙස නිර්මාණය කරගෙන ඇත.

**2.** මෙම පර්වතයේ පිවිසුම පාමුල ඇති ................................ මගින් එකල විසූ මූර්ති ශිල්පියාගේ නිර්මාණශීලී කෞශල්‍ය පිළිබිඹු කෙරේ.

**3.** ලංකා චිත්‍ර කලා ඉතිහාසයේ ................................ කලා සම්ප්‍රදායක ලක්ෂණ මෙම පර්වතයෙහි ඇති සිතුවම්කරණයෙන් දැකිය හැක.

**4.** මෙහි කැටපත් පවුරෙහි ලියා ඇති ................................ තුළින් කාන්තා රූප 500ක් පමණ ඇඳ තිබූ බව සඳහන් වේ.

**5.** මෙහි දැනට ශේෂව ඇති කාන්තා උඩුකය රූ මගින් මේඝලතා හා විජ්ජුලතා සංකේතවත් වන්නේ යැයි යන මතවාදය ප්‍රකාශ කරනු ලැබුයේ ................................................ විසිනි.

[දෙවැනි පිටුව බලන්න.

- අංක **6** සිට **10** තෙක් දී ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

**6.** දැනට සංරක්ෂණය කර කොළඹ ජාතික කෞතුකාගාරයේ පිවිසුම් දොරටුවේ ස්ථාපනය කර ඇති, සමාධි ඉරියව්වෙන් යුත් බුද්ධ ප්‍රතිමාව හමු වී ඇති ස්ථානය කුමක් ද?

....................................................................................................

**7.** ස්පාඤ්ඤයේ පිහිටා ඇති ප්‍රාග් ඓතිහාසික සිතුවම් සහිත ගුහාව කුමක් ද?

....................................................................................................

**8.** අනුරාධපුර යුගයේ වාහල්කඩ නිර්මාණ අතර ඉහළම කලාත්මක ලක්ෂණයන්ගෙන් යුතු වාහල්කඩ නිර්මාණය හමුවනුයේ කුමන ස්ථූපයට ආබද්ධව ද?

....................................................................................................

**9.** තත්ත්වාකාර නිරූපණයකට වඩා ශෛලීගත නිරූපණයකට අනුව නෙළා ඇති මොහෙන්ජොදාරෝවෙන්, හමුවූ මූර්තිය කුමක් ද?

....................................................................................................

**10.** දැනට කොළඹ ජාතික කලාභවනේ නිත්‍ය ප්‍රදර්ශනයේ තබා ඇති "යකැදුරාගේ දියණිය" නම් වූ සිතුවම නිර්මාණය කළ ශිල්පියා කවු ද?

....................................................................................................

- අංක **11** සිට **15** තෙක් දී ඇති එක් එක් ප්‍රශ්නයට වඩාත් නිවැරදි පිළිතුර තෝරා, ඊට **යටින් ඉරක් අඳින්න.**

**11.** ගම්පොළ යුගයට අයත් ලංකාතිලක විහාරයේ නිර්මාණ ශිල්පියා වන්නේ,
(1) දේවේන්ද්‍ර මූලාචාරී ය. (2) දෙල්මඩ මූලාචාරී ය.
(3) ස්ථපතිරායර් ය. (4) ගනේෂ්වරාචාර්ය ය.

**12.** විද්වත් මතයන්ට අනුව අවුකන බුද්ධ ප්‍රතිමාව නිර්මාණකරණයේදී අභාසය ලබා ඇති කලා සම්ප්‍රදාය වනුයේ,
(1) මතුරා ය. (2) අමරාවතී ය. (3) ගන්ධාර ය. (4) ගුප්ත ය.

**13.** නිශ්ශංක ලතා මණ්ඩපය සුවිශේෂී වූ නිර්මාණයක් සේ පිළිගනු ලබනුයේ,
(1) කළු ගල් මාධ්‍යයෙන් කළ නිසා ය.
(2) කුළුණු ශීර්ෂය නෙළුම් පොහොට්ටුවක ස්වරූපය ගත් නිසා ය.
(3) රිද්මානුකූලව තිම වූ ගල්කණු නිසා ය.
(4) ගල් ගරාදි වැටකින් වට වූ ආයත චතුරස්‍රාකාර මණ්ඩපයකින් යුතු වූ නිසා ය.

**14.** සාංචි ස්ථූපය ඉදිවූ රාජ්‍ය සමය වනුයේ,
(1) සුංග ය. (2) මෞර්ය ය. (3) සාතවාහන ය. (4) ගුප්ත ය.

**15.** වීනස් දි මේලෝ,
(1) ග්‍රීක හෙලනිස්ටික් නිර්මාණ ශිල්පීන් කාන්තා රූ නෙළීමේ හැකියාව පෙන්වූ අවස්ථාවකි.
(2) කාන්තා සිරුරේ සුන්දරත්වය විදහා දැක්වෙන ග්‍රීක සම්භාව්‍ය යුගයට අයත් වූවකි.
(3) ග්‍රීසියේ පෞරාණික යුගයේ කලාකෘති අතර අග්‍රගණ්‍ය නිර්මාණයකි.
(4) ග්‍රීක සම්භාව්‍ය යුගයේ නාරි දේහයේ ලාලිත්‍ය පෙන්වන ලද ලෝකඩ නිර්මාණයකි.

- අංක **16** සිට **20** තෙක් දී ඇති වචනවල අර්ථය පැහැදිලි වන සේ සම්පූර්ණ වාක්‍යය බැගින් ලියන්න.

**16.** සාදිලිංගම් : ....................................................................................................

**17.** මිනාර් : ....................................................................................................

**18.** ටෙරාකොටා : ....................................................................................................

**19.** සිරස්පත : ....................................................................................................

**20.** යාලි : ....................................................................................................

- අංක **21** සිට **25** තෙක් දී ඇති රූපසටහන්වලට කිසියම් සබඳතාවක් දක්වන රූපසටහන, ඉදිරියෙන් ඇති **A, B, C, D** සහ **E** යන ඒවා අතුරෙන් තෝරා, එහි අක්ෂරය **තිත් ඉර මත** ලියන්න.

**21.**  (.........)

 A

**22.**  (.........)

 B

**23.**  (.........)

 C

**24.**  (.........)

 D

**25.**  (.........)

 E

- අංක **26** සිට **30** තෙක්දී ඇති එක් එක් වාක්‍යයෙහි හිස්තැනට සුදුසු වචනය/වචන යොදා වාක්‍ය සම්පූර්ණ කරන්න.

**26.** දෙගල්දොරුව විහාරයේ ඇති සිතුවම් අතර 'ඇලි ඇතු දන්දීමේ සිතුවම' ................................ ජාතකයේ එක් අවස්ථා නිරූපණයකි.

**27.** මහනුවර යුගයේ පහතරට සිතුවම් හි නිරූපිත ඇඳුම් පැළඳුම් හා ගෘහ අලංකරණ හේතුවෙන් එම සිතුවම් සඳහා ................................ ලක්ෂණ බහුලව බලපා ඇති බව පෙනේ.

**28.** පිහිටි ගල් පර්වතය හාරා, පිළිම හා ගල් කැටයම් සහිත ව දැනට හමු වී ඇති විශාලත ම ගුහාව සේ පොළොන්නරුවේ ................................ හැඳින්විය හැකි ය.

**29.** ක්‍රිස්තු ආගමික තේමා සිතුවම්කරණයේදී එහි ඇති පසුතල හා චරිත සඳහා දේශීය ලක්ෂණ හා දේශීය චරිත යොදා ගනිමින් සිතුවම් කළේ ................................ ශිල්පියා ය.

**30.** පිකාසෝ විසින් නිර්මාණය කරන ලද ................................ නම් වූ සිතුවම ඝණිකවාදී සම්ප්‍රදාය තුළ බිහිවූ මුල්ම සිතුවම සේ පිළිගැනේ.

● අංක **31** සිට **35** තෙක් දී ඇති ප්‍රශ්නවලට **F, G, H, I, J** යන රූපසටහන් ඇසුරෙන් පිළිතුරු සපයන්න.



F



G



H



I



J

**31.** **F** අක්ෂරයෙන් දැක්වෙන ප්‍රතිමාව නිමවා ඇති මාධ්‍යය කුමක් ද?

..........................................................................................

**32.** **G** අක්ෂරයෙන් දැක්වෙන නටරාජා මූර්තියෙන් ප්‍රකාශිත සංකල්පීය තේමාව කුමක් ද?

..........................................................................................

**33.** **H** අක්ෂරයෙන් දැක්වෙන තළගන මූර්තිය ඉන්දු නිම්න ශිෂ්ටාචාරයේ කුමන ප්‍රදේශයෙන් හමුවූවක් ද?

..........................................................................................

**34.** **I** අක්ෂරයෙන් දැක්වෙන මූර්තිය නිර්මාණය කරන ලද ශිල්පියා කවු ද?

..........................................................................................

**35.** **J** අක්ෂරයෙන් දැක්වෙන මූර්තිය අයත් වනුයේ ග්‍රීකයේ කුමන යුගයට ද?

..........................................................................................

● ඔබ වෙත සපයා ඇති වර්ණ චිත්‍රය හඳුනාගෙන එහි කලාත්මක අගය විග්‍රහ කෙරෙන පරිදි අංක **36** සිට **40** තෙක් දී ඇති උපමාතෘකාවලට අදාළ ව අර්ථවත් වාක්‍ය **පහක්** ලියන්න. (තනි වචනයෙන් සපයන පිළිතුරු සඳහා ලකුණු **නොලැබේ**.)

**36.** දක්නට ඇති ස්ථානය : ..........................................................................................

..........................................................................................

**37.** තේමාව : ..........................................................................................

..........................................................................................

**38.** සංරචනය : ..........................................................................................

..........................................................................................

**39.** භාවිත ශිල්පක්‍රම : ..........................................................................................

..........................................................................................

**40.** භාව ප්‍රකාශනය : ..........................................................................................

..........................................................................................

***

91218







**43 I**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)**
**General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)**

**චිත්‍ර I / சித்திரம் I / Art I**

- ප්‍රශ්න අංක **36** සිට **40** දක්වා ප්‍රශ්න සඳහා පිළිතුරු සැපයීමට පහත සිතුවම භාවිත කරන්න.

  வினா இலக்கம் **36** தொடக்கம் **40** வரையிலான வினாக்களுக்கு விடையளிப்பதற்கு கீழே தரப்பட்டுள்ள உருவப்படத்தினை பயன்படுத்துக.

  Use the following painting to answer the questions from No. **36** to **40**.



* * *

91232





**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

**43 S II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022 (2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022 (2023)**
**General Certificate of Education (Ord. Level) Examination, 2022 (2023)**

| | |
|---|---|
| **චිත්‍ර II**<br>**சித்திரம் II**<br>**Art II** | **පැය දෙකයි**<br>*இரண்டு மணித்தியாலம்*<br>*Two hours* |

**උපදෙස් :**

* ඔබේ **විභාග අංකය** උත්තර පත්‍රයේ ඒ සඳහා වෙන් කර ඇති ස්ථානයේ පැහැදිලි ව ලියන්න.
* උත්තර පත්‍රය විභාග ශාලාධිපතිට භාර දෙන විට ද්‍රව මාධ්‍ය භාවිතා කරන ලද සිතුවම් වියළී තිබිය යුතු ය. තෙත් චිත්‍ර එකට ඇලී තිබීම ඔබට අවාසිදායක විය හැකි ය.
* දිය සායම්, පෝස්ටර් සායම්, ටෙම්පරා සායම්, පැස්ටල් හෝ අතේ නොගෑවෙන ඕනෑ ම වර්ණ මාධ්‍යයක් භාවිත කළ හැකි ය.
* ද්‍රව්‍ය සමූහය 73cm පමණ උස පැතැලි ඩෙස්ක් එකක් මත තැබීමට ශාලාධිපතිවරුන්ට උපදෙස් දී ඇත.

## නිදහස් රේඛාමය ඇඳීම හා වර්ණ චිත්‍ර සම්පිණ්ඩනය

* ඔබ ඉදිරියේ තබා ඇති ද්‍රව්‍ය සමූහය හොඳින් නිරීක්ෂණය කරන්න.

1. රේඛා මගින් පූර්ව අධ්‍යයනයක යෙදෙන්න. මේ සඳහා ඔබට සපයා ඇති A 4 ප්‍රමාණයේ සුදු කඩදාසිය භාවිත කරන්න.
2. ද්‍රව්‍ය සමූහය ඔබට පෙනෙන අයුරින් ඇඳ, වර්ණ කරන්න. මේ සඳහා සපයා ඇති විශේෂ චිත්‍ර ඇඳීමේ කඩදාසිය භාවිත කරන්න.

* **ඉහත 1 සහ 2 චිත්‍ර දෙක ම එකට අමුණා විභාග ශාලාධිපතිට භාර දෙන්න.**
* ඔබේ චිත්‍රය ඇගයීමේ දී පහත සඳහන් කරුණු කෙරෙහි සැලකිලිමත් වන බව සලකන්න.

- **නිදහස් රේඛා අධ්‍යයනය**

1. මුල් කඩදාසියේ කරනු ලබන පූර්ව රේඛා අධ්‍යයනයේ දී දක්වා ඇති කුසලතා (ලකුණු 05)

- **වර්ණ චිත්‍රය**

2. ද්‍රව්‍ය සමූහය, තලය මත කලාත්මක ව සම්පිණ්ඩනය වීම (ලකුණු 05)
3. පරිමාණ, පර්යාලෝක රීති හා ත්‍රිමාණ ලක්ෂණ පිළිබඳ අවබෝධය (ලකුණු 05)
4. දෙන ලද ද්‍රව්‍ය සමූහයේ මතුපිට ස්වභාවය හා ගතිලක්ෂණ දැක්වීම (ලකුණු 05)
5. වර්ණ හැසිරවීමේ ශිල්පීය කුසලතා (ලකුණු 05)
6. උචිත වර්ණවත් පසුබිමක් යෙදීම හා සමස්ත නිමාව (ලකුණු 05)

**සැලකිය යුතුයි:**

* ද්‍රව්‍ය සමූහය තබා ඇති ලෑල්ල සම්පූර්ණයෙන්ම ඇඳීම අවශ්‍ය නොවේ. ලෑල්ලේ පරිමාණය ද්‍රව්‍ය සමූහයට ගැළපෙන අයුරින් වෙනස් කර ඇඳීමට ඔබට අවසර ඇත.

***

91232





**43 S III**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022 (2023)

චිත්‍ර III
சித்திரம் III
Art III

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
*Two hours*

**උපදෙස් :**

* ඔබ ඇඳිය යුත්තේ **එක්** වර්ණවත් චිත්‍රයක් පමණි.
* ඔබේ **විභාග අංකය** හා අදාළ **ප්‍රශ්න අංකය** උත්තර පත්‍රයේ නියම කර ඇති ස්ථානයේ පැහැදිලි ව ලියන්න.
* උත්තර පත්‍රය විභාග ශාලාධිපතිට භාර දෙන විට චිත්‍රය සම්පූර්ණයෙන් වියළී තිබිය යුතු ය. තෙත් චිත්‍ර එකට ඇලී තිබීම ඔබට අවාසිදායක විය හැකි ය.
* දිය සායම්, පෝස්ටර් සායම්, පැස්ටල් ඇතුළු අතේ නොගෑවෙන ඕනෑ ම වර්ණ මාධ්‍යයක් වර්ණ කිරීම සඳහා භාවිත කළ හැකි ය.
* චිත්‍ර ඇඳීමේ විශේෂ කඩදාසි හා අවශ්‍ය අයට ටිෂූ කඩදාසි සපයනු ලැබේ.

'අ' කොටසින් හෝ 'ආ' කොටසින් හෝ 'ඉ' කොටසින් හෝ **එක් ප්‍රශ්නයක් පමණක්** තෝරාගන්න.

## 'අ' කොටස - චිත්‍ර සංරචනය

1. ආගමික සිද්ධස්ථානයක වන්දනා කරන බැතිමතුන්
2. තුරු සෙවනක ගිමන් හරින ගොවියෝ සහ ගෙවිළියෝ
3. නව නිවසක් ඉදි කිරීමේ යෙදී සිටින පිරිසක්
4. ශරීර සුවතා මධ්‍යස්ථානයක ව්‍යායාම් කරන්නෝ

## 'ආ' කොටස - මෝස්තර නිර්මාණය

5. ළදරු ඇඳුමක් සඳහා සුදුසු සත්ත්ව රූප නිර්මාණාත්මකව යොදා ගනිමින් අඟල් **9 × 9** ප්‍රමාණය වන සේ, රෙද්දකට සුදුසු ව්‍යාප්ත මෝස්තරයක් ඇඳ වර්ණ කරන්න.
6. මල් හා කොළ නිර්මාණාත්මකව යොදා ගනිමින් කාන්තා කුඩයක් සඳහා උචිත මුළුතල මෝස්තරයක් ඇඳ වර්ණ කරන්න.
7. සාම්ප්‍රදායික මෝස්තර හා වර්ණ මාධ්‍ය යොදා ගනිමින් ආලින්දයේ බිත්තියේ එල්ලීමට සුදුසු කැඩපත් රාමුවකට සුදුසු නිර්මාණයක් සැලසුම් කර වර්ණ කරන්න.

## 'ඉ' කොටස - ග්‍රැෆික් චිත්‍ර

8. පලතුරු බීම බෝතලයක ඇලවීම සඳහා සුදුසු අඟල් **8 × 6** ප්‍රමාණයේ ලේබලයක් සැලසුම් කර වර්ණ කරන්න.
9. රූපලාවන්‍යාගාරයකට සුදුසු අඩි **6 × 10** ප්‍රමාණයේ නාම පුවරුවක්, නිර්මාණාත්මක අක්ෂර හා රූප යොදා ගනිමින් සැලසුම් කර වර්ණ කරන්න. (පරිමාණුකූලව තලයට ගැලපෙන සේ කුඩා කරන්න.)
10. ශ්‍රී ලංකාවට හඳුන්වා දීමට අපේක්ෂිත නව රූපවාහිනී සේවාවක් සඳහා සුදුසු ලාංඡනයක් සැලසුම් කර වර්ණ කරන්න. (අඟල් **8 × 8** ප්‍රමාණයේ සීමාව තුළ සුදුසු හැඩයක් යොදා ගන්න.)

* * *